ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

ශ්‍රී ලංකා නීති විද්‍යාලයේ 2018 අධ්‍යයන වර්ෂයට සිසුන් ඇතුළත්කර ගැනීම සඳහා
පවත්වනු ලබන තරග විභාගය - 2017 සැප්තැම්බර්

## (01) භාෂා හැකියාව (සිංහල)

පැ තුනයි

### විභාග අපේක්ෂකයින්ට උපදෙස්

ඉතා වැදගත් :

පිළිතුරු ලිවීම සඳහා පැන්සල
භාවිත නොකරන්න.



* පිළිතුරු සැපයීමේ දී පහත සඳහන් ආකාරයට ඉලක්කම් ලියා නැති උත්තර පත්‍ර ඇගයීමට ලක් නොකෙරේ.

**1 2 3 4**

ඔබේ විභාග අංකය මෙහි ද තුන්වන පිටුවෙහි ඇති තිත් ඉර මත ද ලියන්න.

....................................

නිවැරදි බවට නිරීක්ෂකගේ
කෙටි අත්සන

....................................

වැදගත් :

* මෙම ප්‍රශ්න පත්‍රය පිටු **08** කින් හා ප්‍රශ්න **38** කින් යුක්ත වේ.
* පිළිතුරු ලිවීමට පෙර ප්‍රශ්න පත්‍රය පිටු අංක අනුව සකසා ගන්න.
* ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු මෙම පත්‍රයේ ම සපයන්න. පිළිතුරු ලිවීම සඳහා සපයා ඇති ඉඩ ප්‍රමාණවත් නොවන්නේ නම්, අමතර කඩදාසි ලබා ගන්න.
* මෙම ප්‍රශ්න පත්‍රයට නියමිත කාලය පැය තුනකි.
* ශාලාධිපතිවරයා නිවේදනය කළ පසු පිළිතුරු ලිවීම ආරම්භ කරන්න.
* දී ඇති උපදෙස් අනුව ම ප්‍රශ්නවලට පිළිතුරු සැපයිය යුතු වන අතර උපදෙස්වලට පටහැනිව සපයන පිළිතුරු සඳහා ලකුණු දෙනු නොලැබේ.
* ඔබට සැපයීමට පිළිතුරු නැතත් මෙම පිළිතුරු පත ශාලාධිපතිට භාර දිය යුතුය.
* ඔබේ පිළිතුරු පැහැදිලි ලෙස නිල් හෝ කළු පෑනෙන් පමණක් ලියන්න. පැන්සල් පාවිච්චි නොකරන්න.
* මෙම ප්‍රශ්න පත්‍රය විභාග ශාලාවෙන් පිටතට ගෙන යාම හෝ එහි ඡායා පිටපත් ගැනීම හෝ වරදකි.
* අපැහැදිලි ඉලක්කම්, අපැහැදිලි අත් අකුරු සහිත, මකන දියර භාවිත කරන ලද සහ පැන්සලෙන් පිළිතුරු සපයන ලද පිළිතුරු පත්‍ර ඇගයීමට ලක් නොකෙරේ.

පරීක්ෂකගේ ප්‍රයෝජනය
සඳහා පමණි

| පිටුව | ප්‍රශ්න අංකය | ලැබූ ලකුණු |
|---|---|---|
| 2 | 1 – 12 | |
| 3 | 13 – 25 | |
| 4 | 26 – 35 | |
| 4 - 5 | 36 | |
| 6 - 7 | 37 | |
| 7 - 8 | 38 | |
| එකතුව | | |

අවසාන ලකුණු

| ඉලක්කමෙන් | |
|---|---|
| අකුරින් | |

| උත්තර පත්‍ර පරීක්ෂක | |
|---|---|
| ලකුණු පරීක්ෂා කළේ | |

[ 2 වැනි පිටුව බලන්න.

- අංක **1** සිට **3** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ දී ඇති පද අතුරින් එක් පදයක පමණක් අක්ෂර වින්‍යාසය වැරදි ය. එම පදය තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

1. (1) ආධානග්‍රාහී (2) අග්‍රගන්‍ය (3) ඌනපූරණ (4) උල්ලංඝන (.........)

2. (1) චර්මච්ඡේද (2) දන්තෞෂ්ඨ්‍ය (3) ජාතිස්මරණඥාන (4) නෂ්ඨාවශේෂ (.........)

3. (1) කර්නිකාව (2) කොට්ඨාස (3) කෝෂ්ඨාගාර (4) ගවේෂණ (.........)

*(ලකුණු 03 යි)*

- අංක **4** සිට **6** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ දී ඇති වචන අකාරාදි පිළිවෙළට සකස් කළ විට නිවැරදිව දැක්වෙන අනුපිළිවෙළ තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

4. (අ) නිර්ධන (ආ) නිර්ණායක (ඉ) නිර්දේශිත (ඊ) නිර්නාමික
   (1) අ, ඉ, ඊ, ආ (2) ආ, ඉ, අ, ඊ (3) ඊ, ආ, ඉ, අ (4) ඉ, ඊ, අ, ආ (.........)

5. (අ) ප්‍රතිබිම්බ (ආ) ප්‍රතිභාන (ඉ) ප්‍රතිබද්ධ (ඊ) ප්‍රතිමණ්ඩිත
   (1) ආ, අ, ඉ, ඊ (2) අ, ඉ, ආ, ඊ (3) ඉ, අ, ආ, ඊ (4) ඊ, අ, ඉ, ආ (.........)

6. (අ) වෛපුල්‍ය (ආ) වෛශාරද්‍ය (ඉ) වෛෂම්‍ය (ඊ) වෛචිත්‍ර්‍ය
   (1) අ, ඊ, ඉ, ආ (2) ඊ, අ, ආ, ඉ (3) ඉ, ආ, ඊ, අ (4) ආ, ඉ, ඊ, අ (.........)

*(ලකුණු 03 යි)*

- අංක **7** සිට **9** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ දී ඇති පද අතුරින් නිවැරදිව විසන්ධි කර නොමැති පදය තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

7. (1) ගුණාන්විත = ගුණ + අන්විත (2) ආප්තෝපදේශ = ආප්ත + උපදේශ
   (3) අන්වර්ථ = අනු + අර්ථ (4) අභ්‍යවකාශ = අභ්‍ය + අවකාශ (.........)

8. (1) නළඟන = නළ + අඟන (2) ආධ්‍යාත්මික = අධ්‍යාත්ම + ඉක
   (3) සද්භාව = සත් + භාව (4) පරමේශ්වර = පරම + ඊශ්වර (.........)

9. (1) අල්ල = අත් + ල (2) තම්පලා = තඹ + පලා
   (3) නුවනග = නුවන + අග (4) බුද්ධීන්ද්‍රිය = බුද්ධි + ඉන්ද්‍රිය (.........)

*(ලකුණු 03 යි)*

- අංක **10** ප්‍රශ්නයට **නිවැරදි පිළිතුර** තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

10. අකුරු ගළපන ලද කල්හි අර්ථවත් වචනයක් සෑදෙන පිළිතුර කුමක් ද?
    (1) නස්ථාපනෝගලා (2) වර්වශ්‍යාතප (3) අතෘක්තගවන (4) සරයනකාන්ද (.........)

*(ලකුණු 01 යි)*

- අංක **11** සිට **15** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ දී ඇති වාක්‍යය සදොස් වේ නම්, නිදොස් කොට සම්පූර්ණ වාක්‍යයම **තිත් ඉර මත** නැවත ලියන්න. නිදොස් වේ නම්, 'නිවැරදියි' යන්න පමණක් ලියන්න.

11. මා රාජ්‍ය සේවකයෙකි.

.........................................................................................................

12. දක්ෂ ක්‍රීඩකයෙක් ලෙස ඔහු කා අතරත් ප්‍රසිද්ධ විය.

.........................................................................................................

[ 3 වැනි පිටුව බලන්න.

13. දෙමවුපියෝ තම දරුවන් රැක බලා නොගනිත් නම් ඔවුහු නොමග යති.

..............................................................................................................

14. පාසලේ උගන්නා සියලු ශිෂ්‍යයෝ අධ්‍යාපන චාරිකාවට සහභාගි වීම සඳහා පැමිණ ඇත.

..............................................................................................................

15. අපද්‍රව්‍ය බැහැර කිරීමට පැමිණි ශ්‍රමදායකයන් නගරාධිපතිතුමා විසින් පිළිගනු ලැබූහ.

..............................................................................................................

*(ලකුණු 05 යි)*

● අංක **16** සිට **20** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ දී ඇති පද අතුරින් නොගැළපෙන පදය තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

16. (1) වරණ (2) නාග (3) හය (4) කුංජර (.........)

17. (1) රුවනාර (2) දියහෙබ (3) දලනිඳු (4) සිලිලාර (.........)

18. (1) වනදෙව් (2) ගජරුපු (3) මිගිඳු (4) කෙසර (.........)

19. (1) පිළිමල් (2) විපක් (3) විරිඳු (4) අරිටු (.........)

20. (1) සලිල (2) මිරිඟු (3) අඹ (4) තෝ (.........)

*(ලකුණු 05 යි)*

● අංක **21** සිට **25** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ මුලින් දී ඇති තද කළු අකුරින් මුද්‍රිත යෙදුමට සමාන තේරුම් දෙන වාක්‍යාංශය හෝ පදය හෝ තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

21. **අකලට හටගත් ගෙඩිය**
   (1) දරුපල නැති අයට අනපේක්ෂිතව ලැබෙන දරුවා
   (2) අපල කාලය බලවත් වීම
   (3) නිර්ධනයාට හදිසියෙන් ලැබෙන ධනය
   (4) හදිසියේ ඇති වන මහා පරිහානිය (.........)

22. **සුදුලූනු පොඩිකිරීම**
   (1) අනුන් මුළා කිරීම
   (2) අනුන් ගැන වර්ණනා කිරීම
   (3) ඇති තතු යටපත් කිරීම
   (4) අනුන්ගේ ඇස්වල කඳුළු නැංවීම (.........)

23. **අත දීලා දත නියවීම**
   (1) කෙනෙකුට හානි පමුණුවා සිනාසීම
   (2) බොරු හිතවත්කමක් පෙන්නා ක්‍රියා කිරීම
   (3) තම වස්තුව අන්‍යයන්ට දී වෙන අයගෙන් එය ලැබීමට තැත් කිරීම
   (4) ස්වාමියා ඉදිරියේ පමණක් සේවකයන් සැලකිලි දැක්වීම (.........)

24. **කොල්ලෑව නැති ඔරුව**
   (1) අයිතිකාරයෙකු නැති වස්තුව
   (2) භාර්යාව මළ පුරුෂයා
   (3) රැකියාවක් නැති උගතා
   (4) දෙමවුපියන් නැති දරුවා (.........)

25. **කණා ගල් ගැසීම**
   (1) හාස්‍යජනක කාර්යයෙක නියැලීම
   (2) ඉලක්කය ඇල්ලීමට අසමත් වීම
   (3) අවිශ්වාස දෙයක් කිරීම
   (4) කරන්නන් වාලේ වැඩ කිරීම (.........)

*(ලකුණු 05 යි)*

- අංක **26** සිට **30** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ මුලින් දී ඇති තද කළු අකුරින් මුද්‍රිත පදයට සමානාර්ථයක් නොදෙන පදය තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

26. **විශ්වය**
(1) ජගත් (2) දිය (3) භුවන (4) අන්තරීක්ෂ (.........)

27. **අරණ**
(1) ලඳු (2) අඩවි (3) රන් (4) වල් (.........)

28. **කිරණ**
(1) මෙරද (2) රශ්මි (3) අරුණ (4) කැන් (.........)

29. **ගනකුළ**
(1) මේ (2) අඹර (3) දලදර (4) සිලිල් දා (.........)

30. **පුරඳුරු**
(1) සහසැස් (2) වජිරපාණි (3) සුජම්පති (4) තිවට (.........)

*(ලකුණු 05 යි)*

- අංක **31** සිට **35** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ දී ඇති එක් එක් වාක්‍යාංශයෙහි නිවැරදි අර්ථය දෙන තනි යෙදුම තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

31. විශේෂ කරුණක් පැහැදිලි කිරීම සඳහා ග්‍රන්ථයක පිටුවේ යටින් යොදන පාඨය
(1) සූචිය (2) අධෝලිපිය (3) උපශීර්ෂය (4) ගැටපදය (.........)

32. කෙනෙකු තුළ පවත්නා ජයග්‍රහණය කිරීමේ කැමැත්ත
(1) විජයෝන්මාදය (2) විජිගීෂාව (3) විජෘම්භණය (4) විජයෝත්කර්ෂය (.........)

33. රාත්‍රියෙහි අන්තිම යාමය
(1) පෙරයම (2) මැදියම (3) අලුයම (4) පසුයම (.........)

34. තමාට සමාන හෝ උසස් කෙනෙකු නැති
(1) අද්විතීය (2) අනුත්තර (3) අසමසම (4) අප්‍රතිම (.........)

35. නැගෙනහිරටත් දකුණටත් අතර වූ අනුදිශාව
(1) ඊසාන (2) නිරිත (3) වයඹ (4) ගිනිකොණ (.........)

*(ලකුණු 05 යි)*

36. පහත දැක්වෙන පාඨය කියවා අසා ඇති ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.

එක් යුගයක පැවතුණ දැනටත් බොහෝවිට පවතින නීතිය සහ ආගම අතර වූ සමීප සම්බන්ධතාව නීතියට එවැනි ඉමහත් අධිකාරියක් තිබීමට එක් හේතුවක් වේ. පැරණි සමාජ බොහොමයක ආගම නීතිය ද නීතිය ආගම ද විය. ප්‍රජාව විසින් වැඳුම් පිදුම් කරනු ලැබූ සහ ගරුත්වයෙන් පිළිගනු ලැබූ දෙවිවරුන් හෝ දෙවියකු විසින් නීති සාදන ලදැයි සලකනු ලැබේ. හින්දු භක්තිකයන්ගේ බොහෝ පරිචයන් අඩංගු මනුගේ නීති සංග්‍රහය බ්‍රාහ්මණ පූජකයන් විසින් සම්පාදනය කරන ලදැයි සැලකේ. දෙවියන් වහන්සේ විසින් දෙන ලද දස පණත පුරාණ ක්‍රිස්තියානි නීතිය ලෙස පෙනී සිටී. රජ කෙනෙකු වැනි මනුෂ්‍යයකුගෙන් සමහර විට නීති පැහැදිලි ලෙසම පැන නැඟී තිබුණත් බොහෝවිට ඔහුට යම් ආකාරයකින් දේවත්වයක් ඇතැයි හෝ දෙවියන් වහන්සේ හෝ දෙවිවරුන් සමග සම්බන්ධයක් ඇතැයි හෝ සලකනු ලැබී ය. අද වුව ද ආගම හා නීතිය අතර පැහැදිලි අතිච්ඡාදනයක් දක්නට ලැබේ. ලෝකයේ ප්‍රධාන ආගම්වල ප්‍රධාන බරපතළ වැරදි ලෙස ගැනෙන සමහර ඒවා නීතියෙන් ද වැරදි ලෙස දක්වා ඇත. මිනීමැරුමට හා සොරකමට එරෙහිව පනවා ඇති තහනම් කිරීම් පැහැදිලි උදාහරණ වේ. මීට අමතරව රටක ආගමේ රීති ඒ රටේ නීති ලෙස සමහර රටවල පිළිගැනීමක් තිබේ. සවුදි අරාබිය ඉස්ලාම් නීතියෙන් පාලනය වේ යැයි කියන්නේ මේ නිසයි. එසේම ශ්‍රී ලංකාවේ ද රටේ සාමාන්‍ය නීතියට අමතරව මුස්ලිම්වරුන් සඳහා ඉස්ලාම් නීතිය පිළිගෙන ක්‍රියාත්මක කරනු ලැබේ. කෙසේ වුව ද සියලුම ආගමික වැරදි නීතියෙන් පිළිගන්නා වැරදි නොවන බව සඳහන් කිරීම වැදගත් වේ. ආගම නීතියට වඩා සදාචාරය අවධාරණය කිරීමත් පිළිබිඹු කිරීමත් සිදු කරයි. පරදාරය සහ

[ 5 වැනි පිටුව බලන්න.

මුසාවාදය බොහෝ ආගම්වලින් තහනම් කර ඇතත් නීතිය ඒවා වැරදි ලෙස භාරගෙන නොමැත. මෙවැනි අයෝග්‍ය ක්‍රියාකාරකම් තහනම් කිරීමෙන් සමාජය වඩාත් යහපත් එකක් බවට පත් කළ හැකි යැයි යමෙකුට සිතන්නට පුළුවන. එවැනි ක්‍රියා වැළැක්වීම සඳහා හෝ එවැනි ක්‍රියාවලට දඬුවම් පැමිණවීමට හෝ ලෝකයේ බොහෝ ප්‍රජාතාන්ත්‍රික සමාජ නීතිය යොදා නොගැනීමට තීරණය කර ඇත. සමාජයේ යහපැවැත්ම සඳහා එසේ කිරීම අනවශ්‍ය යැයි හෝ ප්‍රායෝගික නොවේ යැයි හෝ ඒ සමාජ සලකන නිසා හෝ හේතු දෙකම නිසා හෝ එසේ සිදු වී ඇත. ආගමට හෝ සදාචාරයට කිසිදු සම්බන්ධයක් නොමැති කරුණු රැසක් සමග නීතිය වෙළී සිටී. යතුරුපැදියක යන්නෙකු අරක්ෂිත හිස් වැසුමක් පැළඳිය යුතු ය. අන්තිම කැමති පත්‍රයක් වලංගු වීම සඳහා සාක්ෂිකරුවන් දෙදෙනකු අත්සන් කර තිබිය යුතුය යන නීති තුළ කිසිදු ආගමික හෝ සදාචාරාත්මක සාධක ගැබ්වී නොමැත. ප්‍රජාවත් එහි සාමාජිකයනුත් ආරක්ෂා කිරීම සඳහා මේ නීති පවතී. මුලින් සඳහන් නීතිය මාර්ග අනතුරුවලින් සිදුවන උවදුරු අවම කිරීම සඳහා වන අතර දෙවැන්න වංචා වැළැක්වීම සඳහා වේ.

(i) මෙහි දැක්වෙන පරිදි ආගමික හෝ සදාචාරාත්මක සාධක කිසිත් ගැබ් වී නොමැති නීති කවරේ ද?

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

(ii) "සමාජය වඩාත් යහපත් එකක් බවට පත් කළ හැකි යැයි යමෙකු සිතීම" ඵලය වේ නම්, ඒ සඳහා බල පෑ හේතුව කුමක් ද?

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

(iii) නීතියට ඉමහත් අධිකාරයක් පවතින බව මේ ලේඛකයා තහවුරු කරන්නේ කෙබඳු ආකාරයෙන් ද?

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

(iv) ආගම හා නීතිය අතර පැහැදිලි අතිච්ඡාදනයක් දක්නට ලැබෙන බව සනාථ කෙරෙන සාධක මොනවා ද?

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

(v) පරදාරය හා මුසාවාදය වැනි ආගමික වැරදි තහනම් කිරීමට නීතිය යොදා නොගන්නේ ඇයි?

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

*(ලකුණු 03 × 5 = 15 යි)*

37. පහත දැක්වෙන පාඨය කියවා එහි වචන සංඛ්‍යාවෙන් **තුනෙන් එකක් පමණ** වන සේ සාරාංශ කොට ලියා, **යෝග්‍ය මාතෘකාවක් ද යොදන්න. ඔබ ලියූ වචන සංඛ්‍යාව සාරාංශය අවසානයේ සඳහන් කරන්න.**

නීතියේ රීතියක් නොවූ හුදෙක්ම සදාචාරාත්මක පමණක් වූ රීතියක් කඩ කිරීමෙන් ඇතිවන අනුෂංගවලට වඩා නීතියේ රීතියක් කඩ කිරීමෙන් ඇතිවන අනුෂංග හාත්පසින්ම වෙනස් වේ. නීතිය කඩ කරන තැනැත්තකුට සිර දඬුවමට යටත්වීම වැනි බාහිර අනුෂංගවලට මුහුණ දීමට සිදු වේ. එවැනි කඩ කිරීමක් යම් ආකාරයක දඬුවමකට ලක් කිරීමට රජය මැදිහත් වේ. නමුත් බොරු කියන හෝ නීති විරෝධී නොවූ තමන්ගේ යම් ක්‍රියාවක් මගින් වෙනත් තැනැත්තකුට රිදවීමක් කරන හෝ තැනැත්තකුගේ එවැනි ක්‍රියාවක් සම්බන්ධයෙන් රජයේ මැදිහත් වීමක් සිදු නොවේ. නීතිය සහ සදාචාරය අතර වෙනස්කම් ඇති නමුත් පොදුවේ ගත්කල සදාචාරයට පටහැනි දෙයක් කරන සේ නීතිය යම් තැනැත්තකුට බල නොකරයි. උචිත සහ හොඳ අභිමතාර්ථයක් වන සමාජ ආරක්ෂාව සඳහා නීතිය පවතින නිසා ඒ අභිමතාර්ථය ඉටුකර ගැනීමේ කාර්යයට දායක සෑම පුද්ගලයෙක්ම බැඳී සිටී. එම නිසා "නීතියට අවනත වීමේ බැඳීමක් තිබේදැයි" යන ප්‍රශ්නය ඇසුවොත් යම් තැනැත්තකු "එසේය" යන පිළිතුර සපයනු ඇතැයි අපේක්ෂා කළ හැකි ය. නමුත් "නරක නීතියක්" පිළිබඳ තත්ත්වය කුමක් ද? නිවාස හිමියකුගේ අයිතිවාසිකම් අයුතු ලෙස සීමා කරන්නේ යැයි පෙනී යන ගෙවල් කුලී පනතේ සමහර විධිවිධාන මෙන් යම් තැනැත්තකු එකඟ නොවිය හැකි නීති මෙයින් අදහස් නොවේ. ස්වයං ප්‍රත්‍යක්ෂ ලෙසම සදාචාරයට පටහැනි නීති මෙයින් අදහස් වේ. ජර්මනියේ නාසි පාලන සමයේ අහිංසක මිනිසුන් වධ හිංසාවට ලක් කිරීමටත්, මරා දැමීමටත් විධිවිධාන සලස්වමින් පනවන ලද නීති මීට පැහැදිලිම උදාහරණය වේ. එවැනි නීති කෙසේවත් නීති ලෙස සැලකිය හැකි ද? එවැන්නක් නීතියක් සේ පිළිගැනීමට පෙරාතුව ඊට එක්තරා ප්‍රමාණයක සදාචාරාත්මකභාවයක් තිබිය යුතු යැයි නීතියේ නිර්වචනයෙන්ම නියම කරන්නේ ද? යන ප්‍රශ්න නීති දාර්ශනිකයන්ගේ දීර්ඝ සාකච්ඡාවට ලක් වී ඇත. ස්වභාවයෙන්ම මෙවැනි ප්‍රශ්න ඉතාම සංකීර්ණ වේ. එසේ වුව ද නියම කරනු ලැබූ ආකාරයකට එනම්, පාර්ලිමේන්තුවෙන් සම්මත කරගන්නාක් මෙන් සම්මත කර ඇත්නම් බෙහෝ දෙනකු එවැන්නක් නීතිය සේ සලකනු ඇත. නීතිය අන්තගාමී වන සහ එය අනුගමනය කිරීම යම් තැනැත්තකුගේ හෘදය සාක්ෂියට ඉඳුරාම පටහැනි වන අවස්ථාවක, නීතියට අවනතවීමේ පොදු යුතුකම ඊට ඉහළින් ඇති සදාචාර ප්‍රමිති සංග්‍රහයකට අවනත වීමේ බැඳීමෙන් අභිබවා යයි. නීතිය කෲර සහ අසාධාරණ වන අවස්ථාවල දී යම් තැනැත්තකුට නීතියට අවනත නොවී සිටිය හැකි අතර ඔහු එසේ කළ යුතු ද වන්නේ ය.

*(ලකුණු 20 යි)*

38. පහත දැක්වෙන මාතෘකාවලින් එකක් තෝරාගෙන, වචන **300** ක් පමණ වන සේ විශ්ලේෂණාත්මක රචනයක් ලියන්න.

   (i) රටක මනා පැවැත්ම උදෙසා ව්‍යවස්ථාදායකයේ හා අධිකරණයේ දායකත්වය

   (ii) මත්ද්‍රව්‍ය උවදුරෙන් සමාජය ආරක්ෂා කිරීමට යෙදිය හැකි උපාය මාර්ග

   (iii) ජලගැලීම් හා නායයාම් ආපදාවලින් පීඩා විඳින ශ්‍රී ලාංකේය ජනතාවට පිහිට වීමේ අවශ්‍යතාව

   (iv) ජාත්‍යන්තර ප්‍රජාවට තර්ජනයක් වූ භයානක ත්‍රස්තවාදය

[ 8 වැනි පිටුව බලන්න.

